# බෞද්ධ ධර්මාචාර්ය විභාගය 2012 (2013)

## (05) බෞද්ධ සමාජ දර්ශනය

(කාලය :පැය 03 යි.)

## I කොටස

සැ.යු. : I කොටසේ ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

01. i) (අ) සිඟාලෝවාද සූත්‍රයේ දැක්වෙන සදිසා නමස්කාරයේ යට දිසාවට අයත් පුද්ගලයන් දෙකොටස නම් කරන්න.

(ආ) සිඟාලෝවාද සූත්‍රයෙහි දැක්වෙන පරිදි ගුරු - ශිෂ්‍ය සම්බන්ධයට අයත් ශිෂ්‍යා විසින් ගුරුවරයා වෙත දැක්විය යුතු සැලකිලි දෙකක් නම් කරන්න.

(ලකුණු 02 යි)

ii) (අ) බෞද්ධ සමාජ දර්ශනයට අනුව පරමාදර්ශී ගෘහස්ථ පුද්ගලයා කවරෙකු දැයි නම් කරන්න.

(ආ). බුදුරදුන් ආදහනය කළ යුත්තේ කවරෙකුගේ ආදාහනයට සමාන වන ලෙසද?

(ලකුණු 02 යි)

iii) (අ). තෘෂ්ණාව විසින් මෙහෙයවනු ලබන බාල ජනයන් අතර දැහැමින් රාජ්‍යයක් පැවැත්විය හැකිද යන්න බුදුරදුන් විසින් මෙනෙහි කළ බව දැකවෙන සූත්‍රය නම් කරන්න.

(ආ). එවැනි කාර්යයක් කළ හැකියැයි පැවසුවේ කවරකේද? එයට බුදුරදුන් දැක්වූ ප්‍රතිචාරය කුමක්ද?

(ලකුණු 03 යි)

vi) (අ) සක්විති රජකුගේ ජාත්‍යන්තර ප්‍රතිපත්තියට කරුණු හයක් ඇතුළත් වේ. ඉන් කරුණු දෙකක් නම් කරන්න.

(ආ) එහි ඇතුළත් රාජ්‍යවල ස්වාධිපත්‍යය ආරක්ෂා කිරීමට උපකාර වන ප්‍රතිපත්තිය කුමක්ද?

(ලකුණු 03 යි)

v) (අ) උපත් පාලනය සඳහා ගබ්සා කිරීම බෞද්ධ ධර්මයෙන් අනුමත කරන්නක් දැයි සඳහන් කරන්න.

(ආ) ඝාතන චේතනාවෙන් මිදී උපත් පාලනය සඳහා බෞද්ධයකුට අනුගමනය කළ හැකි ක්‍රියා මාර්ගය කුමක්ද?

(ලකුණු 03 යි)

vi) (අ) බුදුරජාණන් වහන්සේ දෙපරිසකගේ ශාස්තෘවරයා ලෙස සැලකේ. එ දෙපරිස නම් කරන්න.

(ආ) ඒ බව සඳහහන වන පාලි පාඨය ලියන්න.

..............................................................................................................................

(ලකුණු 03 යි)

vii) (අ) "යෙ ගහට්ඨා පුඤ්ඤකරා .........." යන ගාථාව සම්පූර්ණ කරන්න.

..............................................................................................................................

..............................................................................................................................

..............................................................................................................................

..............................................................................................................................

(ආ) එම ගාථාව කවුරුන් විසින් තමා කාට නමස්කාර කරන්නේදැයි පැවසීම සඳහා කියන් ලද්දක්ද?

..............................................................................................................................

(ලකුණු 03 යි)

viii) (අ) "පරේ ච න විජානන්ති" යන ගාථාව සම්පූර්ණ කරන්න.

..............................................................................................................................

..............................................................................................................................

..............................................................................................................................

..............................................................................................................................

(ආ) යුද්ධය සංසිඳවීමට වැඩිය යුතු භාවනා දෙකක් නම් කරන්න.

..............................................................................................................................

..............................................................................................................................

(ලකුණු 03 යි)

ix (අ) සමාජයක් තුළ නීතිය ක්‍රියාත්මක විය යුත්තේ කුමක් ආරක්‍ෂා කරදීම සඳහාද?

..............................................................................................................................

..............................................................................................................................

..............................................................................................................................

..............................................................................................................................

(ආ) බුදුරදුන් නීති පැනවීමට හේතු ලෙස දැක්වූ කරුණු දහයෙන් දෙකක් සඳහන් කරන්න.

..............................................................................................................................

..............................................................................................................................

(ලකුණු 03 යි)

x) (අ) පමණ නොදැන ආහාර අනුභව කරන්නන් පස් දෙනෙකු බුදු සමයෙහි දැක්වේ. ඉන් එක් අයෙකු නම් කරන්න.

..............................................................................................................................

..............................................................................................................................

(ආ) "චතතාරො පංච ආලොපෙ ................" යන ගාථාව සම්පූර්ණ කරන්න.

..............................................................................................................................

..............................................................................................................................

..............................................................................................................................

..............................................................................................................................

(ලකුණු 03 යි)

# බෞද්ධ ධර්මාචාර්ය විභාගය -2012 (2013)

## (05) බෞද්ධ සමාජ දර්ශනය

කාලය පැ. 3 යි.

( ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

---

### II කොටස

02. i. බෞද්ධ සමාජය සිව්වණක් පිරිසක සංයුතියකි. එම සිව් වණක් පිරිස නම් කරන්න.
ii. සිව් වණක් පිරිස විසින් සංවර්ධනය කරගත යුතු කුසලතා සමූහයක් මහා පරිනිර්වාණ සූත්‍රයේ දක්වා ඇත. එම කුසලතා නම් කරන්න.
iii. තම විමුක්තියත්, සමාජ යහපතත්, ධර්මයේ පැවැත්මත් සඳහා සිව් වණක් පිරිසට ඉටුකළ හැකි මෙහෙවර පැහැදිලි කරන්න.

03. i. මාපියන් හැඳින්වීමට බුදුරදුන් යොදා තිබෙන ගෞරව නාම හතරක් දක්වන්න.
ii. දෙමාපියන්ගෙන් දරුවන්ටත්, දරුවන්ගෙන් දෙමාපියන්ටත් ඉටුවිය යුතු යුතුකම් දහයක් සිඟාලෝවාද සූත්‍රයෙහි දැක්වේ. ඉන් හතක් ලියන්න.
iii. මාපිය දූදරු සම්බන්ධය මැනවින් පවත්වා ගැනීම සමාජ යහපතට හේතු වේ. යන ප්‍රකාශය තහවුරු කරන්න.

04. i. " දානං සීලං පරිච්චාගං................" යන ගාථාව සම්පූර්ණ කරන්න.
ii. සමාජයක මානව අයිතිවාසිකම් අහිමි වීමට හේතුවන කරුණු හතක් නම් කරන්න.
iii. "දේශපාලනය හා බැඳී පවතින ගිහි ජීවිත චර්යා යහපත් කරනු පිණිස අර්ථ සම්පන්න දේශපාලන චින්තනයක් බුදුසමය ඉදිරිපත් කරයි." යන ප්‍රකාශය සනාථ කරන්න.

05. i. පන්සිල් අනුපිළිවෙළින් ලියන්න.
ii. සමාජයක මානව අයිතිවාසිකම් අහිමිවීමට හේතුවන කරුණු හතක් නම් කරන්න.
iii. "බෞද්ධයන්ගේ දෛනික සදාචාර පද්ධතිය වන පංචසීලයෙන් මානව අයිතිවාසිකම් රාශියක් ආරක්‍ෂා වේ". යන ප්‍රකාශය තහවුරු කරන්න.

06. i. විවාහක පවුලක් තුළ ගුණදම් හතරක් සමව පැවතීම සාර්ථක විවාහයකට හේතුවන බව බුදුරදුන් දක්වා ඇත. එම ගුණදම් හතර නම් කරන්න.
ii. සාර්ථක විවාහ ජීවිතයක් ගත කිරීමට අවශ්‍ය මධ්‍යම ප්‍රතිපදාව මත ගොඩනැගුණු ගෘහස්ථ සදාචාරයක් බුදුන් වහන්සේ උගන්වති. යන ප්‍රකාශය තහවුරු කරන්න.
iii. සප්ත භාර්යාවන් නම් කරන්න.

07. i. වැළකී සිටිය යුතු වෙළඳාම් පහක් බුදුසමය දක්වයි. ඉන් හතරක් නම් කරන්න.
ii. උට්ඨාන වීර්යයෙන් යුතුව ආර්ථිකය ගොඩනගා ගන්නෙකුට අවශ්‍ය උපදෙස් අටක් අංගුත්තර නිකායේ දැක්වේ. ඉන් හතක් ලියන්න.
iii. "අර්ථවත් පරිභෝජනය, කාර්යක්‍ෂම නිෂ්පාදනය, සංරක්‍ෂණය හා ත්‍යාගය බෞද්ධ ආර්ථිකයක මූලිකාංග වේ" . යන ප්‍රකාශය පැහැදිලි කරන්න.

08. i. මානසික සාධක තුනක් ජීව අජීවී පරිසරයේ සමතුලිත බව බිඳ වැටීමට හේතු වේ. ඒ කරුණු නම් කරන්න.
ii. නියාම ධර්ම පස නම් කර මනෝ විද්‍යාත්මක නියාම ධර්මය හා ආධ්‍යාත්මික නියාම ධර්ම ලෙස සැලකෙන්නේ කවර නියාම ධර්මදැයි නම් කරන්න.
iii. ජීව අජීව පරිසරය මැනවින් රැකගැනීම මානවයාට පැවරෙන් උසස් වගකීමකි. යන ප්‍රකාශය තහවුරු කරන්න.

* * *